ET/SSS/2022(2023)/OL/33/S/Q/S-2

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education

G. C. E. Ordinary Level | **අ. පො. ස. සාමාන්‍ය පෙළ** | 2022 (2023)

# Student Seminar Series

# ශිෂ්‍ය සම්මන්ත්‍රණ මාලාව

Practice Paper | **උපකාරක ප්‍රශ්න පත්‍ර**

# History

# ඉතිහාසය



**Question Paper - I, II | ප්‍රශ්න පත්‍රය - I, II (සිංහල මාධ්‍යය)**

Nenasa
The National e-learning Portal for The General Education

**දුරස්ථ අධ්‍යාපන ප්‍රවර්ධන ශාඛාව | ජාතික භාෂා හා මානව ශාස්ත්‍ර ශාඛාව**

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
**Ministry of Education, Sri Lanka**

| 33 | S | I, II |
|---|---|---|

**අ. පො. ස. සාමාන්‍ය පෙළ විභාගය - උපකාරක සම්මන්ත්‍රණ මාලාව - 2022 (2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை- ஆதரவு கருத்தரங்கு தொடர் - 2022 (2023)**
**G. C. E. Ordinary Level Examination - Support Seminar Series - 2022 (2023)**

| | | |
|---|---|---|
| ඉතිහාසය | I, II | පැය තුනයි. |
| வரலாறு | I, II | மூன்று மணித்தியாலம் |
| History | I, II | Three Hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි.
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time – 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදා ගන්න.

## ඉතිහාසය I

**සැලකිය යුතුයි:**

* සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් නිවැරදි හෝ වඩාත් සුදුසු පිළිතුර තෝරාගන්න.
* ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X ) ලකුණ යොදන්න.
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** රජරට ශිෂ්ටාචාර සමයේ ඉතිහාසය හැදෑරීමට වඩාත් වැදගත් කෘතියක් වන්නේ මින් කුමක් ද ?
(1) සද්ධර්මාලංකාරය (2) පැරකුම්බා සිරිත (3) තිසර සන්දේශය (4) කව්සිළුමිණ

**2.** රොබට් නොක්ස් ඇතුළු බ්‍රිතාන්‍ය ජාතික නැව් කණ්ඩායම මෙරටට ගොඩබසින අවධියේ මෙහි පාලකයා,
(1) රාජාධිරාජසිංහ රජු ය. (2) පළමුවන රාජසිංහ රජු ය.
(3) කීර්ති ශ්‍රී රාජසිංහ රජු ය. (4) දෙවන රාජසිංහ රජු ය.

**3.** පහත සඳහන් වන (අ) තීරුවේ තොරතුරු (ආ) තීරුවේ තොරතුරු සමග නිවැරදිව ගැළපූ විට ලැබෙන පිළිතුර තෝරන්න.

| (අ) | (ආ) |
|---|---|
| 1 ග්‍රීක | A- ඩිමුන්ඩෝ |
| 2 රෝම | B- රිබෙයිරෝගේ කෘතිය |
| 3පෘතුගීසි | C- භූගෝල ශාස්ත්‍ර ප්‍රවේශය |
| 4 ලන්දේසි | D- බැල්දියස්ගේ ලංකා පුරාවෘත්තය |
| | E- හියුං සියැං ගේ දේශාටන වාර්තාව |

(1) ABCD (2) ACBD ( 3) BCAE (4) DBCA

**4.** වෙවැල්කැටිය සෙල්ලිපිය පිහිටුවීමේ අරමුණ වී ඇත්තේ,
(1) විහාරාරාම පාලනය පිළිබඳ දැනුවත් කිරීමට ය. (2) පුද්ගලයින්ගේ සේවය අගය කිරීමට ය.
(3) අපරාධකරුවන්ට හිමි දඬුවම් ප්‍රසිද්ධ කිරීමට ය. (4) රජයට ගෙවිය යුතු බදු පිළිබඳව දැනුවත් කිරීමටය.

**5.** පහත ස්ථාන අතරින් ප්‍රාග් ඓතිහාසික මානවයින්ගේ වාසස්ථානයක් ව පැවති පැරණිතම ලෙන් ජනාවාසය වන්නේ,
(1) බුලත්සිංහල පාහියන්ගල. (2) කිතුල්ගල බෙලි ලෙන.
(3) අත්තනගොඩ අලුලෙන. (4) කුරුවිට බටදොඹ ලෙන.

**6.** පැරණි සුසාන ක්‍රම අතරින් හරණී සුසාන ක්‍රමය අයත් වන්නේ මෙයින් කුමන ඓතිහාසික යුගයට ද ?

(1) මුල් ඓතිහාසික යුගය (2) ඓතිහාසික යුගය
(3) ප්‍රාග් ඓතිහාසික යුගය (4) පූර්ව ඓතිහාසික යුගය

**7.** අනුරාධපුර නගරය නුරුපුර ලෙසින් හඳුන්වා ඇති ප්‍රසිද්ධ අභිලේඛනය කුමක් ද?

(1) වල්ලිපුරම් රන් සන්නස (2) වේවැල්කැටිය සෙල්ලිපිය (3) පනාකඩුව තඹ සන්නස (4) බදුලු ටැම් ලිපිය

**8.** පහත සඳහන් කාර්යයන් අතුරින් ගම්කට අයත් කාර්යයක් නොවන්නේ,

(1) වැවේ ජලය බෙදාහැරීම යි. (2) ගමට අයත් වැව නඩත්තු කිරිම යි.
(3) ගමේ සුළු ආරවුල් විසඳීම යි. (4) වැව් කිහිපයක් බාරව කටයුතු කිරීම යි.

**9.** ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීමට පෙර ධර්ම කොටස් කටපාඩමින් මතකයේ තබා ගත් භික්ෂූන් වහන්සේලා හැඳින්වූයේ,

(1) සද්ධිවිහරිය නමිනි. (2) භාණකවරු නමිනි . (3) අන්තේවාසික නමිනි. (4) ථෙර නමිනි.

**10.** ජලාශවල ජීවත් වන පක්ෂීන් නොමැරිය යුතු බවට නීතියක් පනවන ලද්දේ ,

(1) නිශ්ශංකමල්ල රජු ය. (2) හතරවන වන මිහිඳු රජු ය.
(3) තුන්වන උදය රජු ය. (4) අමණ්ඩ ගාමිණී අභය රජු ය.

**11.** පැරණි සමාජයේ සමාජ ප්‍රභූත්වය හිමි කර ගැනීම සඳහා හේතු වූ වැදගත් ම සාධකය වූයේ කුමක් ද ?

(1) පරම්පරාවෙන් පැවත එන උරුමය (2) නිෂ්පාදන අතිරික්තය සඳහා වූ හිමිකම
(3) ඉඩම් සඳහා වූ පරවේණි අයිතිය (4) වෙළඳාමෙන් ලද ධනය

**12.** අතීත සමාජ සංවිධානය තුළ සිටි නිෂ්පාදන භුක්තිවිඳින්නන් පමණක් ඇතුළත් පිළිතුර කුමක් ද ?

(1) වෙළෙන්දන් ,ගොවීන් ,ලෝකුරුවන් ,කුඩින්
(2) එඬේරුන් ,කුඹල්කරුවන් ,ලෝකුරුවන් ,වෛද්‍යවරුන්
(3) ගොවියන් ,වෛද්‍යවරුන් ,බඩගරිකයින් ,වෙළෙන්දන්
(4) නාවික කප්පිත්තන් ,වෛද්‍යවරුන් ,ගුරුවරුන් ,වෙළඳ ප්‍රධානින්

**13.** ශ්‍රී ලංකාවේ පැරණි සමාජයේ විවිධ ගුරුවරුන් හැඳින්වීම සඳහා භාවිතා කරන ලද නම්, I තීරුවේ ද ඔවුන් නියළුණු ශිල්ප ක්ෂේත්‍ර , II තීරුවේ ද දක්වා ඇත , I තීරුවේ අනුපිළිවෙළ අනුව II තීරුව ගැළපූ විට නිවැරදි පිළිතුර කුමක් ද ?

| I තීරුව | II තීරුව |
|---|---|
| 1- දුනු අචරිය<br>2 - හති අචරිය<br>3- අස අචරිය<br>4- චිතකර | A - දුනු විදීම<br>B - මැටි ශිල්පය<br>C - ඇතුන් හැසිරවීම<br>D- අශ්වයින් හැසිරවීම<br>E - චිත්‍ර ශිල්පය |

(1) ABCD (2) ACDE ( 3) BCAE (4) DACB

**14** අතීත ශ්‍රී ලාංකිකයන් තුළ පැවති ,භෞතික විද්‍යාවේ ඉගැන්වෙන ස්ථිති විද්‍යුතය පිළිබඳ දැනුම ප්‍රකට වන අවස්ථාවකට නිදසුනක් වන්නේ ,

(1) රුවන්වැලි සෑයේ සව්කොට ඇති වජ්‍ර චුම්බට යි.
(2) සමනල වැවේ ක්‍රියාකරන යකඩ නිස්සාරණ උඳුන යි.
(3) දැදිගම කොටවෙහෙර ඇති ලෝකඩ ඇත් පහන යි.
(4) සීගිරියේ ජල මල් තාක්ෂණ යයි.

**15.** පළමුවන ගජබාහු රජු විසින් පිහිටුවන ලද සිතුල්පව්ව සෙල් ලිපියෙන් හෙළිවන කරුණ වන්නේ ,

(1) අතීතයේ වෙළඳාමට අවශ්‍ය නීතිරීති පනවා තිබූ බව ය.

(2) සතුන් මැරීම සිදු කළ අයට දඬුවම් පැමිණ වූ බව ය.

(3) නීති කඩ කළ අයට දඬුවම් කිරීමට උසාවි පද්ධතියක් තිබූ බව ය .

(4) පරිසර සංරක්ෂණයට අදාළ නීති තිබූ බවය.

- අංක 17- 16 ප්‍රශ්නවල ඓතිහාසික සිදුවීම් සිදු වූ කාල වකවානු අනුව, අනුපිළිවෙලින් සැකසූ විට නිවැරදි පිළිතුර වන්නේ කුමක් ද ?

**16.** A - බෙලිගල දළදා මැදුරක් ඉදිකර වීම

B - දකුණු ඉන්දීය ආක්‍රමණිකයෙකු වූ කාලිංග මාඝ මෙරට ආක්‍රමණය කිරීම

C - ශ්‍රී මහා බෝධීන් වහන්සේ මෙරටට වැඩම වීම

D - කාලිංග හා පාණ්ඩ්‍ය වංශිකයන් අතර පාලනය සඳහා බල අරගලයක් ඇති වීම

(1) BADC (2) CDBA (3) CD (4) DCBA

**17**

A - වැලිවිට සරණංකර හිමියන්ට සංඝරාජ තනතුර පිරිනැමීම

B - පෘතුගීසීන් මෙරටින් පලවා හැරීම

C - දෙල්ගමු විහාරයේ සඟවා තිබූ දන්ත ධාතුව මහනුවරට වැඩම කරවීම

D - ඇම්බැක්කේ දේවාලය කරවීම

(1) ACDB (2) CDBA (3) DCBA (4) DABC

**18** උඩරට භික්ෂූන් වහන්සේලාගේ උපදෙස් පරිදි බුරුමයෙන් උපසම්පදාව ගෙන ඒම සඳහා උත්සාහ ගත්ත ද එය අසාර්ථක වූ නායක්කර් වංශික රජු කවුරුන් ද ?

**(1)** ශ්‍රී වික්‍රම රාජසිංහ රජු
**(2)** රාජාධි රාජසිංහ රජු
**(3)** ශ්‍රී විජය රාජසිංහ රජු
**(4)** කීර්ති ශ්‍රී රාජසිංහ රජු

- පහත තොරතුරු ඇසුරින් 19 -20 ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න

A - යාපහුව රාජධානියේ පියගැටපෙළ

B - ගඩලාදෙණිය විහාරයේ පිළිම ගෙය

C - ඇම්බැක්කේ දේවාලයේ ලී කැටයම්

D - සීගිරි අප්සරාවෝ

**19.** පාණ්ඩ්‍ය හා කාම්බෝජ ආභාසය ලබා නිර්මාණය වූවක් ලෙස විශ්වාස කරන නිර්මාණය කුමක් ද ?

(1) A ය (2) B ය (3) C ය (4) D ය

**20.** දකුණු ඉන්දියානු නිර්මාණ ශෛලියේ ආභාෂය ලබා නිර්මාණය වූවක් ලෙස සැලකෙන්නේ කුමක් ද ?

(1) A ය (2) B ය (3) C ය (4) D ය

**21 .** ක්‍රිස්තු වර්ෂ 1548 සීතාවක මායාදුන්නේ රජු සමඟ සන්ධානයකට පැමිණි යාපනයේ පාලකයා වන්නේ කවුරු ද ?

(1) පරරාජසේකරම් (2) කුලසේකරම් (3) එදිරිමානසිංහ (4) පළමු සංකිලි

22 . ප්‍රථමයෙන් ආසියාවට පැමිණීමට නව මුහුදු මාර්ගයක් සොයා ගනු ලැබූ යුරෝපීය ජාතිකයා වන්නේ ,

(1) බර්තොලමියුඩයස් ය. (2) වස්කෝදගාමා ය.

(3) ක්‍රිස්ටෝපර් කොලොම්බස් ය . (4) ෆර්ඩිනන්ඩ් මැගලන් ය.

23 . ක්‍රිස්තු වර්ෂ 1505 දී පෘතුගීසීන් ලංකාවට පැමිණෙන විට කෝට්ටේ රාජධානියේ පාලකයා වූයේ ,

(1) .අටවන වීර පරාක්‍රමබාහු රජතුමා ය (2) හත්වන බුවෙනකබාහු රජතුමා ය.

(3) හයවන බුවනෙකබාහු රජතුමා ය . (4) හයවන පරාක්‍රමබාහු රජතුමා ය

24. යාපනයේ පාලකයා වූ සංකිලි රජු හා පෘතුගීසින් අතර ගැටුම් ඇතිවීමට බලපෑ මූලික ම හේතුව වූයේ , මින් කුමක් ද ?

(1) පෘතුගීසීන්ට වෙළඳ භාණ්ඩ ලබා නොදීම යි

(2) උඩරට රජුගේ වෙළඳ කටයුතු වලට යාපනයේ පාලකයා සහය දීම යි

(3) පෘතුගීසීන්ගේ වෙළඳ නැව් වලට බාධා එල්ල වීම යි

(4) සංකිලි රජු කප්පම් ගෙවීම පැහැර හැරීම යි

25 ශ්‍රී ලංකාවට පැමිණි මුල්ම ලන්දේසි ජාතිකයා වන්නේ,

(1) සී බල්ද වර්ට් ය .(2) ජොරිස් වැන් ස්පිල්බර්ජන් ය .(3) වෙස්ටර් වොල්ට් ය .(4) ලොරෙන්සෝද අල්මේදා ය.

- පහත වගුව උපයෝගි කරගනිමින් 26 සිට 29 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න

| | |
|---|---|
| A - ජෙම්ස් හාග්‍රීව්ස් | E - රෝලර් යන්ත්‍රය |
| B - ඩෙම්ලර් | F - විදුලි පණිවිඩ ක්‍රමය |
| C - සැමුවෙල් මොර්ස් | G - මෝටර් රථය |
| D - හෙන්රි කෝට් | H - ජෙනී යන්ත්‍රය |

26. පේෂ කර්මාන්තය හා සම්බන්ධ ගැලපෙන පිළිතුරු යුගලය කුමක් ද?

(1) AH (2) BG (3) CE (4) CF

27. ප්‍රවාහන ක්ෂේත්‍රය හා සම්බන්ධ ගැලපෙන පිළිතුරු යුගලය කුමක් ද ?

(1) AH (2) BG (3) CH (4) DE

28. සන්නිවේදන ක්ෂේත්‍රය හා සම්බන්ධ පිළිතුරු යුගලය තෝරන්න

(1) AH (2) BG (3) CF (4) DE

29. යකඩ හා වානේ කර්මාන්තයට අදාළ පිළිතුරු යුගලය කුමක් ද ?

(1) AH (2) BG (3) CF (4) DE

30. පහත සඳහන් සිදුවීම් ඓතිහාසික අනුපිළිවෙළින් පෙළ ගැස්වූ විට ලැබෙන නිවැරදි පිළිතුර තෝරන්න .

A - ඉංග්‍රීසීන් ත්‍රිකුණාමලය වරාය යටත් කර ගැනීම.

B - ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල ලන්දේසි ආණ්ඩුකාරවරයා වූ ෆන් එංගල් බෙක් වෙත කිව් ලිපිය එවීම.

C - ඓතිහාසික උඩරට ගිවිසුම අත්සන් කිරීම.

D - ශ්‍රී ලංකාව බ්‍රිතාන්‍ය කිරීටයේ යටත් විජිතයක් බවට පත්වීම.

(1) ABCD (2) BADC (3) BCAD (4) DABC

- පහත දැක්වෙන A හා B ප්‍රකාශ ඇසුරෙන් 31 හා 32 ප්‍රශ්නයට පිළිතුරු සපයන්න
  A - සාමය ,ඉඩම් හා ආහාර
  B - "මා අපේක්ෂා කරන ඕනෑම දෙයක් නීත්‍යානුකූලයි "

**31.** ප්‍රංශ විප්ලවය සම්බන්ධයෙන් ,
(1) A හා B සත්‍යය වේ. **(2)** A හා B අසත්‍ය වේ.
**(3)** A සත්‍ය වන අතර B අසත්‍ය වේ. **(4)** A අසත්‍ය වන අතර B සත්‍යය වේ.

32. රුසියන් විප්ලවය සම්බන්ධයෙන්
(2) A හා B සත්‍යය වේ. **(2)** A හා B අසත්‍ය වේ
**(3)** A සත්‍ය වන අතර B අසත්‍ය වේ **(4)** Aඅසත්‍ය වන අතර B සත්‍යය වේ

**33.** “අවි බලයෙන් වසර පහකදී ලබා ගත් දේ ආරක්ෂා කිරීමට තවත් වසර පනහක්වත් සන්නද්ධව සිටිය යුතුයි“ යනුවෙන් ප්‍රකාශ කරමින් ජර්මනිය තරගකාරී ලෙස අවි නිෂ්පාදනයට යොමු කරන ලද්දේ ,

(1) වී අයි ලෙනින් ය. (2) දෙවන විලියම් ය. (3) ඇඩෝල්ෆ් හිට්ලර් ය. (4) වොන් වෝල්ක් ය.

- \- 34 සිට 37 දක්වා ප්‍රශ්නවලට පහත දී ඇති ප්‍රකාශ ඇසුරින් පිළිතුරු සපයන්න

A. 1- ජාතීන්ගේ සංගමය.
2- දෙවන ලෝක සංග්‍රාමය.

B 1- බොස්ටන් තේ සාදය.
2 -ඇමරිකන් විප්ලවය.

C. 1- ලුසිටානියා නැවට පහර දීම.
2 - ඇමරිකා එක්සත් ජනපදය සංග්‍රාමයට එක්වීම.

D. 1 - සෝල්බරි ආණ්ඩුක්‍රමය.
2 - පාර්ලිමේන්තු ක්‍රමය.

**34.** පළමුවැන්නේ ප්‍රත්ඵලයක් ලෙස දෙවැන්න ඇත්වීම දැක්වෙන පද යුගලය කුමක් ද ?
(1) A (2) B (3) C (4) D

**35.** පළමුවැන්න මගින් දෙවැන්න හඳුන්වා දුන් බව දැක්වෙන පද යුගලය කුමක් ද ?
(1) A (2) B (3) C (4) D

**36.** පළමුවැන්නේ අසාර්ථකත්වය දෙවැන්න ආරම්භ වීමට එක් හේතුවක් බව දැක්වෙන පද යුගලය කුමක් ද?
(1) A (2 (B (3) C (4) D

**37.** දෙවැන්න ආරම්භවීමට පළමුවැන්න හේතු වූ බව දැක්වෙන පද යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D

**38. 1905** දී රුසියාවේ රාජ්‍ය විරෝධී කැරැල්ලක් ඇති වීමට ආසන්න ම හේතුව කුමක් ද ?

**(1)** රුසියන් වැසියන් හමුදාවට බඳවා ගැනීම
**(2)** ජනතාව පීඩාවට පත් කරමින් බදු අය කිරීම
**(3)** දූෂිත ඒකාධිපති රාජාණ්ඩු ක්‍රමය
**(4)** ජපානය සමඟ යුද්ධයෙන් රුසියාව පරාජයට පත්වීම

**39. A -** ප්‍රංශය හා ජර්මනිය සතුරන් වීම
**B -** හිරෝහිතෝ අධිරාජයා යටත් වීම
**C -** ජෝන් මාර්ෂල්ගේ සැලැස්ම
**D -** ප්‍රාන්ස් පර්ඩිනන්ඩ් කුමරු ඝාතනය
පළමු වන ලෝක යුද්ධය හා සම්බන්ධ ක්‍රියාකාරකම් දෙකක් වන්නේ ,

**(1) A** හා **B** **(2) A** හා **D** **(3) B** හා **C** **(4) B** හා **D**

**40** .අත්ලාන්තික් ප්‍රඥප්තිය සඳහා අත්සන් තැබූ නායකයින් දෙපළ වන්නේ,

**(1)** ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට් හා මාෂල් ටිටෝ **(2)** අබ්දුල් ගමාල් නසාර් හා වුඩ්රෝ විල්සන්
**(3)** වින්සන් චර්චිල් හා ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට් **(4)** මාර්ෂල් ටිටෝ හා වින්සන්ට් චර්චිල්

*****

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education, Sri Lanka

| 33 | S | II |
|---|---|---|

අ. පො. ස. සාමාන්‍ය පෙළ විභාගය - උපකාරක සම්මන්ත්‍රණ මාලාව - 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை- ஆதரவு கருத்தரங்கு தொடர் - 2022 (2023)
G. C. E. Ordinary Level Examination - Support Seminar Series - 2022 (2023)

| | |
|---|---|
| ඉතිහාසය | I, II |
| வரலாறு | I, II |
| History | I, II |

ඉතිහාසය II

- I කොටසේ ප්‍රශ්න අංක 1 අනිවාර්ය වේ.
- II කොටසින් ප්‍රශ්න හතරකට ද, III කොටසින් ප්‍රශ්න එකකට ද පිළිතුරු සපයන්න.
- පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව හයකි.

## 1 කොටස

1 (අ) (i) පහත දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ශ්‍රී ලංකා සිතියමේ ලකුණු කර නම් කරන්න.
වලවේ ගඟ , යෝධ වැව , කලා ඔය , රයිගම ,කෝනේශ්වරම් කෝවිල , අලුගල්ගේ, සීගිරිය , සූකරතිත්ත , ගම්පොළ, මාතලේ , නල්ලූර් , සල්වතොට (ලකුණු 12)

(ii) පහත දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ලම සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ලකුණු කර නම් කරන්න.
වැනීසිය , මලය අර්ධද්වීපය , කළු මුහුද , ලන්ඩන්, බොම්බාය , හිරෝෂිමා ( ලකුණු 6 )

(ආ )( i ) පහත A B C D යටතේ දක්වා ඇති ප්‍රශ්නවලට පිළිතුරු අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න .

A - පියංගුකතිස්ස නම් විහාරය ඉදිකළ සෘෂිගිරි නම් ඇමතියා පිළිබඳ සඳහන් අභිලේඛනය

B - ආර්ය චක්‍රවර්තීන් පරාජය කළ සපුමල් කුමරු කෝට්ටේ රාජ්‍යත්වයට පත්වූ පසු හැඳින්වූ නාමය

C - පොන්නම්බලම් අරුනාචලම් මහතා විසින් ප්‍රථම වරට සභාපතිත්වය දැරූ සංගමය

D - කීර්ති ශ්‍රී රාජසිංහ රාජ්‍ය සමයේ දී උඩරටට ආක්‍රමණයක් දියත් කළ ලන්දේසි ආණ්ඩුකාරවරයා

( ලකුණු 4)

- පහත A හා B යටතේ දක්වා ඇති පින්තූර කොටස් අධ්‍යයනය කොට අසා ඇති ප්‍රශ්නවලට පිළිතුර අංක අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න

(i i) 1. A ඡායාරූපයෙන් දැක්වෙන්නේ කුමක් ද?

2 .මෙම නිර්මාණය දැකිය හැකි රාජධානිය කුමක් ද ?

3 .මෙය නිර්මාණය කිරීමට භාවිත කළ මාධ්‍ය කුමක්ද ?

4 .මෙය කිනම් ආගමකට අයත් ද ? ( ලකුණු 4)



A රූපය

**(iii)**



1. B ඡායාරූපයෙන් දැක්වෙන පුද්ගලයා කවුරු ද ?
2. මෙතුමා සභාපතිත්වය දැරූ විධායක කාරක සභාව කුමක් ද?
3. මෙතුමාගේ නායකත්වයෙන් පිහිටු වූ දේශපාලන පක්ෂය කුමක් ද ?
4. මොහු ආරම්භ කරන ලද පළමු වන බහුකාර්ය සංවර්ධන යෝජනා ක්‍රමය කුමක් ද ?

( ලකුණු 4 ) **B** රූපය

## II කොටස

**2 . (i)** ශ්‍රී ලංකාව පිළිබඳ තොරතුරු සඳහන් වන දකුණු ඉන්දීය දෙමළ ග්‍රන්ථ තුනක් ලියන්න . (ලකුණු 3)

**(ii)** ඉතිහාසය ගොඩනැගීමට සාහිත්‍යය මූලාශ්‍රය යොදා ගැනීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හතරක් ලියන්න. (ලකුණු 4)

**(iii)** ලංකා ඉතිහාසය හැදෑරීමේ දී මහාවංශය වඩා විශ්වාසනීය මූලාශ්‍රයක් ලෙස වැදගත් වන ආකාරය කරුණු දෙකක් ඇසුරින් පැහැදිලි කරන්න . (ලකුණු 5)

**(iv)** සාහිත්‍ය මූලාශ්‍රයවල ප්‍රයෝජන කරුණු තුනක් ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 6)

**3. (i)** ප්‍රාග් ඓතිහාසික යුගයේ මානවයා ජනාවාස කරගත් කඳුකර එළිමහන් දඩයම් වාසස්ථාන දෙකක් හා වියළි කලාපීය ලෙන් වාසස්ථානයක් ලියා දක්වන්න. (ලකුණු 3)

**(ii)** ප්‍රාග් ඓතිහාසික යුගය පූර්ව ඓතිහාසික යුගයෙන් වෙන්කර හඳුනාගත හැකි සාධක දෙකක් දක්වන්න. (ලකුණු 4)

**(iii)** පූර්ව ඓතිහාසික යුගයේ පැවැති ක්‍රමවත් සුසාන ක්‍රම දෙකක් උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 5)

**(iv)** අතීත ශ්‍රී ලංකාවේ ආර්ථික රටාව තුළ කෘෂිකර්මාන්තය සංවිධානය වී තිබූ ආකාරය නිදසුන් තුනක් සහිතව පැහැදිලි කරන්න. (ලකුණු 6)

**4. (i)** පහත සඳහන් රාජ්‍යත්ව සංකල්පවලින් හඳුන්වනු ලබන පාලකයින් ලියා දක්වන්න .

A - නරේශ්වර
B - පර්වත රාජ
C - චක්‍රවර්ති (ලකුණු 3)

**(ii)** . රාජ්‍ය පාලනයට සම්බන්ධ පහත සඳහන් තැනැත්තන් පැරණි මූලාශ්‍රයන්හි හඳුන්වා ඇති ආකාරය වරහන් තුළින් තෝරා අදාළ අක්ෂර අනුව අනුපිළිවෙලින් ලියා දක්වන්න.

A - භාණ්ඩාගාරික
B - නාගරික වාස්තු විද්‍යාඥ
C - වෙළඳ කටයුතු භාර ප්‍රධානී
D - රාජ්‍ය ලේඛනාගාර ප්‍රධානී

(බඩගරික ,නගර වුඩික,කනපෙඩික ,පන අදෙක ,රූප අදෙක ) (ලකුණු 4)

**(iii)** පැරණි ශ්‍රී ලංකාවේ රාජ්‍ය උරුමය සිදු වූ ප්‍රධාන ආකාර දෙක උදාහරණ සහිතව පැහැදිලි කරන්න (ලකුණු 5)

**(iv)** දුටුගැමුණු රජතුමා මෙරට බිහිවූ ශ්‍රේෂ්ඨ පාලකයෙකු බව කරුණු තුනක් ඇසුරෙන් පෙන්වා දෙන්න.

(ලකුණු 6)

5 (i) A - මහවැලි ගඟ

B - අඹන් ගඟ

C - කලා වැව හා සම්බන්ධ පැරණි ඇළ මාර්ගය බැගින් ලියා දක්වන්න (ලකුණු 3)

(ii) පහත දැක්වෙන කාර්යභාරයන් ඉටු කරනුයේ වැවක කුමන අංගයක් මඟින් දැයි අනුපිළිවෙළින් ලියන්න.

A - ජල තරංග මගින් වැව් බැම්ම සේදී යෑම වැළැක්වීම.

B - මනා පාලනයකින් ජලය පිට කිරීමට සොරොව්වට උපකාරී වීම.

C - වැවෙහි පතුලෙහි තැන්පත් රොන්මඩ ඉවත් කිරීම.

D - වැවෙහි ජලය ගොවිබිම් කරා රැගෙන යාම. (ලකුණු 4)

(iii) ක්‍රිස්තු වර්ෂ 1215 දී කාලිංග මාඝ ආක්‍රමණයෙන් පසු ජනතාව තෙත් කලාපයට සංක්‍රමණය වීමේ දී සැලකිලිමත් වූ කරුණු දෙකක් කෙටියෙන් පැහැදිලි කරන්න (ලකුණු 5)

(iv) කෝට්ටේ යුගයේ සාහිත්‍යයේ දියුණුවට බලපෑ හේතු තුනක් උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න (ලකුණු 6)

6 (i) A - කුසුමාසන දේවිය

B - කොනප්පු බණ්ඩාර

C - යමසිංහ බණ්ඩාර

ඉහත පුද්ගලයින්ගේ බෞතිස්ම නාමයන් ලියා දක්වන්න (ලකුණු 3)

(ii) පහත සඳහන් සිදුවීම් හා සම්බන්ධ පුද්ගලයින් කවුරුන්දැයි වරහන් තුළින් තෝරා නියමිත අක්ෂර යොදා ලියා දක්වන්න .

A - සීතාවක රාජසිංහ රජුට උඩරට ආක්‍රමණයේ දී සහාය ලබාදුන් උඩරට ප්‍රභූවරයා

B - සෙනරත් රජු විසින් ඌව ප්‍රදේශය පවරා දෙනු ලැබූ කුමාරයා

C - මහනුවර දළදා මාලිගාව ඉදි කර වූ රජතුමා

D - කෝරලය නම් ප්‍රාදේශීය පාලන ඒකකයේ කුල භාරව කටයුතු කළ නිලධාරියා (ලකුණු 4)

(කරල්ලියද්දේ බණ්ඩාර , මුහන්දිරම් , විදානේවරු , වීරසුන්දර බණ්ඩාර , විජයපාල කුමරු , කුමාරසිංහ කුමරු , පළමුවන විමලධර්මසූරිය රජු , ශ්‍රී වික්‍රම රාජසිංහ රජු )

(iii) උඩරට රාජධානියේ සමාජ සංවිධානය පහත අංශ යටතේ පැහැදිලි කරන්න.

(a) ඉඩම් භුක්තිය

(b) විවාහ ක්‍රම (ලකුණු 5)

(iv) උඩරට රාජ්‍යය සම්බන්ධ ලන්දේසි ප්‍රතිපත්තියේ කැපී පෙනෙන ලක්ෂණ තුනක් උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න. ( ලකුණු 6)

7 (i) පහත සඳහන් නවාංග ශ්‍රී ලංකාවේ දේශපාලනයට එකතු වූ ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මොනවා දැයි අදාළ අක්ෂර යොදා ලියා දක්වන්න.

A - මුල්වරට ව්‍යවස්ථාදායක හා විධායක සභා හඳුන්වා දීම

B - ව්‍යවස්ථාදායකය තුළ මුල්වරට නිලනොලත් සාමාජිකයින් සංඛ්‍යාව බහුතරය බවට පත්වීම

C - සීමිත ඡන්ද බලය හඳුන්වා දීම (ලකුණු 3)

(ii) ඩොනමෝර් ආණ්ඩුක්‍රමය යටතේ හඳුන්වා දෙන ලද ප්‍රතිසංස්කරණයන් හතරක් සඳහන් කරන්න. (ලකුණු 4)

(iii) බ්‍රිතාන්‍යයන් යටතේ ශ්‍රී ලංකාවේ සිදු වූ සමාජ පරිවර්තන දෙකක් කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 5)

(iv) නිදහසින් පසු වී ගොවිතැන දියුණු කිරීමට රජයන් ගත් ක්‍රියාමාර්ග තුනක් කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 6)

## III කොටස

8 (i) බ්‍රිතාන්‍යයේ ගල් අඟුරු ආකර බහුලව ඇති ප්‍රදේශ තුනක් ලියන්න. ( ලකුණු 3)

(ii) කාර්මික විප්ලවයට සමගාමීව කෘෂිකර්ම ක්ෂේත්‍රයේ ඇති වූ වර්ධනයට බලපෑ ප්‍රධාන සාධක දෙකක් ලියන්න.

( ලකුණු 4)

(iii) කාර්මික විප්ලවයේ බලපෑම ශ්‍රී ලංකාවේ ආර්ථිකයට බලපෑ ආකාරය කරුණු දෙකක් මගින් පැහැදිලි කරන්න. (ලකුණු 5)

(iv) කාර්මික විප්ලවය නිසා සිදු වූ යහපත් ප්‍රතිඵල දෙකක් හා අයහපත් ප්‍රතිඵලයක් කෙටියෙන් විස්තර කරන්න (ලකුණු 6)

9 (i) දෙවන ලෝක සංග්‍රාමයට සම්බන්ධ වූ අක්ෂ බලවතුන්ගේ රටවල් තුනේ අගනුවරවල් නම් කරන්න.

(ලකුණු 3)

(ii) පළමුවන ලෝක සංග්‍රාම සමයේ පහත රටවල් පාලනය කළ නායකයින් ලියා දක්වන්න.

A - ඇමරිකා එක්සත් ජනපදය
B - බ්‍රිතාන්‍ය
C - ප්‍රංශය
D - ඉතාලිය (ලකුණු 4)

(iii) පළමු ලෝක සංග්‍රාමය ඇතිවීමට බලපෑ ආසන්නත ම හේතුව හා දෙවන ලෝක යුද්ධය සඳහා බලපෑ ආසන්නතම හේතුව කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 5)

(iv) එක්සත් ජාතීන්ගේ සංවිධානය ලෝක සාමය රැකීම සඳහා ගත් ප්‍රයත්නයන් තුනක් කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 6)

*****


N
ඉන්දියන් සාගරය
இந்து சமுத்திரம்
Indian Ocean
අප්‍රිකාව
ஆபிரிக்கா
Africa

ET/SSS/2022(2023)/OL/33/S/A/S-2

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education

G. C. E. Ordinary Level | අ. පො. ස. සාමාන්‍ය පෙළ | 2022 (2023)

# Student Seminar Series

# ශිෂ්‍ය සම්මන්ත්‍රණ මාලාව

Practice Paper | උපකාරක ප්‍රශ්න පත්‍ර

# History

# ඉතිහාසය



## Answer Sheet - I, II | පිළිතුරු පත්‍රය - I, II (සිංහල මාධ්‍යය)

Nenasa

The National e-learning Portal for The General Education

දුරස්ථ අධ්‍යාපන ප්‍රවර්ධන ශාඛාව | ජාතික භාෂා හා මානව ශාස්ත්‍ර ශාඛාව

# 1 පත්‍රය

| ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය |
|---|---|---|---|---|---|---|---|
| 01 | 1 | 11 | 2 | 21 | 4 | 31 | 4 |
| 02 | 4 | 12 | 4 | 22 | 2 | 32 | 3 |
| 03 | 2 | 13 | 2 | 23 | 1 | 33 | 4 |
| 04 | 3 | 14 | 1 | 24 | 3 | 34 | 3 |
| 05 | 1 | 15 | 3 | 25 | 2 | 35 | 4 |
| 06 | 4 | 16 | 2 | 26 | 1 | 36 | 1 |
| 07 | 3 | 17 | 3 | 27 | 2 | 37 | 2 |
| 08 | 4 | 18 | 3 | 28 | 3 | 38 | 4 |
| 09 | 2 | 19 | 1 | 29 | 4 | 39 | 2 |
| 10 | 1 | 20 | 2 | 30 | 2 | 40 | 3 |



නල්ලූර්
සූබරතිත්ථ
යෝධ වැව
මල්වතු ඔය
කෝනේශ්වරම්
සීගිරිය
සල්වතොට
මාතෙල්
ගම්පොල
රයිගම
අලුගල්ගේ
වලවේ ගඟ




කළු මුහුද
ලංඩන්
වැනිසිය
හිරෝෂිමා
අප්‍රිකාව
Africa
බොම්බාය
මලය අර්ධද්වීපය
ඉන්දියන් සාගරය
Indian Ocean
N

ආ) i A වල්ලිපුරම් රන් සන්නස

B 6 බුවනෙකබාහු

C ලංකා ජාතික සංගමය

D බැරන් වැන් එක්

ii i ශිව දේවාලය

ii පොළොන්නරුව

iii කළුගල්

iv හින්දු

iii i ඩී එස් සේනානායක මහතා

ii ඉඩම් හා කෘෂිකර්මාන්ත

iii එක්සත් ජාතික පක්ෂය

iv ගල්ඔය සංවර්ධන යෝජනා ක්‍රමය

2 i සීලප්පදිකාරම් ,මනිමේකලෛ ,පදිරුප්පත්තු

ii මූලාශ්‍රයේ රචනා වූ කාලය , මූලාශ්‍රයේ කතුවරයා , කතුවරයාගේ අරමුණු , මූලාශ්‍රයට කරුණු සපයා ගත් ආකාරය

iii

- මහාවංශය තොරතුරු සෙල්ලිපි හා වෙනත් සාහිත්‍ය මූලාශ්‍රවලින් සනාථ වීම
- මහාවංශය රචනා කිරීමට ඊට පෙර ලියවුණු සාහිත්‍යය කෘති යොදාගැනීම

iv

- ඓතිහාසික කාල අනුපිළිවෙල සකස් කර ගැනීමට
- එක් ඒක් අවධිවල දේශපාලන ආර්ථික සමාජ සංස්කෘතික කටයුතු පිළිබඳ තොරතුරු ලබාගැනීමට
- එක් මූලාශ්‍රයක් මඟින් ලැබෙන තොරතුරු තවත් මූලාශ්‍රයක් මඟින් සනාථ කර ගැනීමට
- රටක විදේශීය සබඳතා අධ්‍යනය කිරීමට

3 i බණ්ඩාරවෙල ,හෝර්ටන් තැන්න
වියලි කලාපීය ලෙන් වාසස්ථාන - සීගිරියේ අලිගල ,පොතාන

ii ස්ථිරවාසිතාවය
කෘෂිකර්මාන්තය ඇරඹීම , යකඩ භාවිතය ඇරඹීම , ක්‍රමවත් සුසාන විධි ආරම්භය , පිළිස්සූ මැටි වළං භාවිතය

iii ශිලා මංජුසා සොහොන් - උදාහරණ ඉබ්බන් කටුව , ගල් සොහොන් කනත්ත , යටිගල්පොත්ත

මැටි ඔරු සුසාන - උදාහරණ- බෙරගල , හල්දුම්මුල්ල

හරණී සුසාන - උදාහරණ - පොම්පරිප්පු

iv හේන් ගොවිතැන , මඩ ගොවිතැන , සත්ව පාලනය (10 ශ්‍රේණියේ පෙළ පොතෙහි 47 සිට 50 පිටු දක්වා )

4 i A කූඨකණ්ණාභය රජු

B පළවෙනි කාශ්‍යප /සීගිරි කාශ්‍යප

C කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජු

ii A බතගු , B නගර වුඩික , C පනඅදෙක , D කනපෙඩික

**iii** <u>පියාගෙන් පුතාට</u>

උදාහරණ පණ්ඩුකාභය රජු ගෙන් මුටසීව රජුට , මුට සිව රජු ගෙන් දේවානම්පියතිස්ස රජුට
කාවන්තිස්ස රජුගෙන් දුටුගැමුණු රජුට , වසභ රජුගෙන් වංකනාසික තිස්ස රජුට

<u>සහෝදරයාගෙන් සහෝදරයාට</u>

දේවානම්පියතිස්ස රජුගෙන් පසු උත්තිය ,සූරසේන ,අසේල යන රජ කුමාරවරුන්ට
දුටුගැමුණු රජුගෙන් පසු සද්ධාතිස්ස කුමරුට

**iv**

- ප්‍රථම වරට සටන් ව්‍යාපාරයක් දියත් කොට රට එක්සේසත් කිරීම
- බෞද්ධාගමේ උන්නතියට වෙහෙර විහාර රැසක් ඉදිකරවීම
- මධ්‍ය පාලනය ඉතා ක්‍රමවත් අයුරින් සංවිධානය කිරීම

**5 i A** මිනිපේ ඇළ , **B** ඇළහැර ඇළ , **C** යෝධ ඇළ

**ii A** රළ පනාව , **B** බිසෝ කොටුව , **C** මඩ සොරොව්ව , **D** ඇළ මාර්ග

**iii**

- ආරක්ෂාව
- ආර්ථිකය

**iv**

- රාජ්‍ය අනුග්‍රහයෙන් පිරිවෙන් ඉදිවීම
- සාහිත්‍ය නිර්මාණකරණයට රාජ්‍ය අනුග්‍රහ ලබා දීම
- උගත් පඬිවරුන් රාශියක් බිහි වීම

**6** **i A** දෝන කතිරිනා , **B** දොන් ජුවන් , **C** දොන් පිලිප්

**ii A** වීරසුන්දර බණ්ඩාර , **B** කුමාරසිංහ කුමරු , **C** පළමුවන විමලධර්මසූරිය රජතුමා , **D** මුහන්දිරම්

**iii** ඉඩම් භුක්තිය

- රටේ සියලු ඉඩම්වල උරුමකරුවා රජු විය
- ඉඩම් අයිතිය හා බුක්තිය පහත සඳහන් කොටස් යටතේ බෙදී පැවතුණි
  - ගබඩාගම් - රජවාසල ප්‍රයෝජනය සඳහා වෙන් වූ ඉඩම්
  - නින්දගම්- රදල ප්‍රධානීන් කළ සේවය වෙනුවෙන් ප්‍රදානය කළ ඉඩම්
  - විහාරගම් -විහාරාරාම සඳහා පූජා කළ ඉඩම්
  - දේවාලගම් දේවාල සඳහා පූජා කළ ඉඩම්
  - පරවේණි ගම් -ගම්වැසියන් පරම්පරාගත ව භුක්ති විඳි ඉඩම්

<u>විවාහ ක්‍රම</u>

- දීග විවාහය මනාලයාගේ නිවසට මනාලිය කැන්දාගෙන ඒම
- බින්න විවාහය -මනාලියගේ නිවසේ මනාලයා ගොස් පදිංචි වීම
- බහු පුරුෂ විවාහය සහෝදරයින් දෙදෙනෙකුට එකම මනාලියක් කැන්දාගෙන ඒම
- මෙම සියලු විවාහ ක්‍රම කුල ක්‍රමය මත පදනම් වීම

**iv**

- උඩරට සමඟ ගැටුම්වලින් වැළකී සාමකාමීව කටයුතු කිරීමට උත්සාහ දැරීම
- රජවරුන්ගේ සිත් දිනා ගැනීම සඳහා විවිධ උපක්‍රමයන් අනුගමනය කිරීම
  උදාහරණ - තෑගිබෝග භුවමාරුව
  සිංහල රජවරුන්ට විවිධ අවස්ථාවල දී නාවික ආධාර ලබා දීම (උපසම්පදාව වැඩම කරවීම)
- උඩරට රාජ්‍යය තුළ ආර්ථික වශයෙන් උපරිම වාසි ලබා ගැනීමට කටයුතු කිරීම

7 i A කෝල්බෲක් ප්‍රතිසංස්කරණය , B මැනිං ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය , C කෲව්මැකලම් ප්‍රතිසංස්කරණ

ii

- සර්ජන ඡන්ද බලය
- විධායක කාරක සභා ක්‍රමය
- රාජ්‍ය නිලධාරීන් තිදෙනකු හඳුන්වාදීම
- ජනවාර්ගික නියෝජනය අහෝසි කිරීම

iii

- මධ්‍යම පන්තියක් නිර්මාණය වීම
- කම්කරු පන්තියක් නිර්මාණය වීම

iv

- මහවැලි සංවර්ධන ව්‍යාපාරය ඇරඹීම
- ගොවිජනපද පිහිටුවීම
- වී සඳහා සහතික මිලක් නියම කිරීම
- ගොවිජන සේවා මධ්‍යස්ථාන පිහිටුවීම වී පර්යේෂණ ආයතන පිහිටුවීම හා නව වී ප්‍රභේද හඳුන්වාදීම
- රජයේ බැංකු මගින් ගොවීන්ට ණය ආධාර ලබාදීමට පියවර ගැනීම

III කොටස

8 i දකුණු වේල්ස් , යෝක්ෂයර්, ලැන්කර්ෂයර්

ii

- මහා පරිමාණ ගොවිබිම් ආරම්භ කිරීම
- ශෂ්‍ය මාරු ක්‍රමය
- සත්ව පාලන කටයුතු සඳහා නව තාක්ෂණය යොදා ගැනීම
- නව කෘෂිකාර්මික ක්‍රම හා උපකරණ භාවිතය

iii

- කර්මාන්ත ආරම්භ කිරීම හා ඒ සඳහා යන්ත්‍ර සූත්‍ර භාවිතය
- ප්‍රවාහන ක්ෂේත්‍රයේ දියුණුවක් ඇති වීම
- වෙළඳ මධ්‍යස්ථාන බිහිවීම හා ඒ හා සමගාමීව නගර බිහිවීම

iv වාණිජවාදී ආර්ථිකයක් බිහි වීම තුළින් රටවල් දියුණුවට පත්වීම

- ජනතාවට භාණ්ඩ දැරිය හැකි මිලකට ගත හැකි වීම
- රැකියා අවස්ථා බිහි වීම තුළින් ජනතාවගේ ජීවන මට්ටම් සුඛවාදී වීම

<u>අයහපත් ප්‍රතිඵල</u>

- පරිසර දූෂණය
- මුඩුක්කු නිවාස බිහි වීම හා සමාජ ගැටලු රැසක් නිර්මාණය වීම
- පන්ති සහිත සමාජයක් බිහි වීම

9 i බර්ලින් , රෝමය ,ටෝකියෝ

ii

- ඇමරිකා එක්සත් ජනපදය- වුඩ්රෝ විල්සන්
- බ්‍රිතාන්‍ය අගමැති- ලොයිඩ් ජොර්ජ්
- ප්‍රංශ අගමැති -ක්ලෙමන් ෂො
- ඉතාලිය - විටෝරියෝ ඕලැන්ඩෝ

iii

- ඔස්ට්‍රියාවේ ඔටුන්න හිමි කුමරා ඝාතනය කිරීම
- ජර්මනිය විසින් පෝලන්තය ආක්‍රමණය කිරීම

Iv

- සූවස් අර්බුදය
- ගල්ෆ් අර්බුදය
- කියුබානු මිසයිල අර්බුදය

*****